235476



නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

32 | S | I

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2016 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2016 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2016

ගණිතය I
கணிதம் I
Mathematics I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
*Two hours*

විභාග අංකය: .....................................

නිවැරදි බවට සහතික කරමි

.....................................

ශාලා නිරීක්ෂකගේ අත්සන

**වැදගත්:**

- ❋ මෙම ප්‍රශ්න පත්‍රය පිටු 8කින් සමන්විත ය.
- ❋ **මෙම පිටුවේත්, තුන්වැනි පිටුවේත්** නියමිත ස්ථානවල ඔබේ **විභාග අංකය** නිවැරදි ව ලියන්න.
- ❋ ප්‍රශ්න **සියල්ලට ම** පිළිතුරු **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** සපයන්න.
- ❋ පිළිතුර ලිවීමටත් එම පිළිතුර ලබා ගත් ආකාරය දැක්වීමටත් එක් එක් ප්‍රශ්නය යටින් තබා ඇති ඉඩ ප්‍රමාණය ප්‍රයෝජනයට ගන්න.
- ❋ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේ දී **අදාළ පියවර** හා **නිවැරදි ඒකක** දක්වන්න.
- ❋ පහත දක්වා ඇති පරිදි ලකුණු ප්‍රදානය කෙරේ:
  - **A කොටසෙහි**
    එක් එක් ප්‍රශ්නයට ලකුණු 2 බැගින්
  - **B කොටසෙහි**
    එක් එක් ප්‍රශ්නයට ලකුණු 10 බැගින්
- ❋ කටුවැඩ සඳහා හිස් කඩදාසි ලබා ගත හැකි ය.

**පරීක්ෂකවරුන්ගේ ප්‍රයෝජනය සඳහා පමණි**

| කොටස | ප්‍රශ්න අංක | ලකුණු |
|---|---|---|
| A | 1 - 25 | |
| B | 1 | |
| | 2 | |
| | 3 | |
| | 4 | |
| | 5 | |
| එකතුව | | |

| | |
|---|---|
| ..................... පළමු පරීක්ෂක | ..................... සංකේත අංකය |
| ..................... දෙවන පරීක්ෂක | ..................... සංකේත අංකය |
| ..................... ගණිත පරීක්ෂක | ..................... සංකේත අංකය |
| ..................... ප්‍රධාන පරීක්ෂක | ..................... සංකේත අංකය |

[දෙවැනි පිටුව බලන්න.

## A කොටස

ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** සපයන්න.

1. රු 800ක් වටිනා භාණ්ඩයක් ආනයනයේ දී 6%ක තීරුබද්දක් ගෙවිය යුතු ය. තීරුබදු මුදල සොයන්න.

2. දී ඇති වෙන් රූප සටහනේ $A \cap B$ උපකුලකය නිරූපණය වන පෙදෙස අඳුරු කොට දක්වන්න.




3. ඒකාකාර වේගයෙන් ගමන් කරන බස් රථයක්, තත්පර 3ක් තුළ මීටර 48ක දුරක් ගමන් කරයි. බස් රථයේ වේගය තත්පරයට මීටරවලින් සොයන්න.

4. දර්ශක ආකාරයෙන් දක්වන්න: $\log_2 16 = 4$

5. විසඳන්න: $(x-1)(x-2) = 0$

6. $2x + 1 \leq 5$ අසමානතාව සපුරාලන ධන නිඛිල සියල්ල ම ලියා දක්වන්න.

7. සුළු කරන්න: $\frac{1}{x} + \frac{1}{2x}$

8. $xy$ හා $x^2$ යන වීජීය ප්‍රකාශන දෙකෙහි කුඩා ම පොදු ගුණාකාරය සොයන්න.

[ තුන්වැනි පිටුව බලන්න.

**9.** යන්ත්‍රයකින් කුඹුරු යායක අස්වනු නෙළීමට පැය 6ක් ගත වේ. එවැනි යන්ත්‍ර තුනකින් මෙම යායේ අස්වනු නෙළීමට ගත වන පැය ගණන කොපමණ ද?

**10.** 1 සිට 3 තෙක් සංඛ්‍යා ලියා ඇති සර්වසම කාඩ්පත් 3ක් සහිත පෙට්ටියකින් සසම්භාවී ලෙස කාඩ්පතක් ඉවතට ගැනීමේ දී ඔත්තේ සංඛ්‍යාවක් ලියා ඇති කාඩ්පතක් ලැබීමේ සම්භාවිතාව ලියා දක්වන්න.

**11.** වගුවේ දී ඇති තොරතුරු භාවිතයෙන් $\sqrt{90}$ හි පළමු සන්නිකර්ෂණය සොයන්න.

| $x$ | 9.3 | 9.4 | 9.5 | 9.6 |
|---|---|---|---|---|
| $x^2$ | 86.49 | 88.36 | 90.25 | 92.16 |

**12.** රූපයේ දැක්වෙන $ABC$ හා $PQR$ ත්‍රිකෝණ දෙක අංගසම වේ. දී ඇති තොරතුරු ඇසුරෙන් $x$, $y$ හා $z$ හි අගයන් සොයන්න.




**13.** ඝන සිලින්ඩරයක අරය 7 cm ද උස 2 cm ද වේ. $\pi$ හි අගය සඳහා $\frac{22}{7}$ ගෙන එහි වක්‍ර පෘෂ්ඨයේ වර්ගඵලය සොයන්න (අරය $r$ ද උස $h$ ද වන ඝන සිලින්ඩරයක වක්‍ර පෘෂ්ඨයේ වර්ගඵලය $2\pi rh$ වේ).

**14.** රූපයේ දී ඇති තොරතුරු ඇසුරෙන් $x$ හි අගය සොයන්න.




**15.** $\cos x° = 0.8$ ලෙස දී ඇති විට, රූපයේ දැක්වෙන තොරතුරු ඇසුරෙන් $PQ$ හි දිග සොයන්න.




[තෙවැනි පිටුව බලන්න.

**16.** රූපයේ දැක්වෙන සරල රේඛාවේ සමීකරණය $y = mx + c$ ආකාරයෙන් ප්‍රකාශ කළ විට $m$ හා $c$ සඳහා ලැබෙන අගයන් ලියා දක්වන්න.




**17.** වගුවේ සත්‍ය ප්‍රකාශ ඇත්නම් ඒවා ඉදිරියෙන් ඇති කොටු තුළ "√" ලකුණක්, අසත්‍ය ප්‍රකාශ ඇත්නම් ඒවා ඉදිරියෙන් ඇති කොටු තුළ "X" ලකුණක් යොදන්න.

| | |
|---|---|
| සමාන්තරාස්‍රයක සම්මුඛ පාද සමාන හා සමාන්තර වේ. | |
| සමාන්තරාස්‍රයක සම්මුඛ කෝණ සමාන වේ. | |
| සමාන්තරාස්‍රයක වර්ගඵලය එක් එක් විකර්ණය මගින් සමච්ඡේද වේ. | |

**18.** රූපයේ දී ඇති තොරතුරු ඇසුරෙන් $C\hat{D}A$ හි විශාලත්වය සොයන්න.




**19.** රූපයේ දැක්වෙන $O$ කේන්ද්‍රය වන වෘත්තයේ අරය 10 cm වේ. දී ඇති තොරතුරු ඇසුරෙන් $AB$ ජ්‍යායේ දිග සොයන්න.




**20.** $\mathbf{A} = \begin{pmatrix} 1 & 2 \\ 0 & 1 \end{pmatrix}$ හා $\mathbf{B} = \begin{pmatrix} 2 & 0 \\ 0 & 4 \end{pmatrix}$ යැයි දී ඇති විට, **AB** න්‍යාසය සොයන්න.

**21.** රූපයේ දැක්වෙන $ABC$ ත්‍රිකෝණයට අදාළ ව ඇති තොරතුරු භාවිතයෙන් $E\hat{F}C$ හි විශාලත්වය සොයන්න.



**22.** රූපයේ දැක්වෙන වෘත්තයේ කේන්ද්‍රය $AC$ මත පිහිටයි. දී ඇති තොරතුරු භාවිතයෙන් $C\hat{B}D$ හි විශාලත්වය සොයන්න.




**23.** රූපයේ දැක්වෙන ත්‍රිකෝණාකාර ප්‍රිස්මයේ පරිමාව, දී ඇති තොරතුරු භාවිතයෙන් සොයන්න.




**24.** ආරෝහණ පිළිවෙළට ලියා ඇති දත්ත 23ක මුල් දත්ත 12 පහත දැක්වේ.

4, 4, 6, 7, 7, 8, 9, 9, 10, 11, 13, 15

එම දත්ත 23හි මධ්‍යස්ථය හා පළමු චතුර්ථකය ලියන්න.

**25.** රූපයේ $A$ හා $B$ ලක්ෂ්‍යවලට සමදුරින් $AC$ මත පිහිටි ලක්ෂ්‍යය සොයා ගැනීමට අවශ්‍ය නිර්මාණ රේඛාවල දළ සටහනක් ඇඳ එම ලක්ෂ්‍යය $D$ ලෙස නම් කර දක්වන්න.




**

## B කොටස

ප්‍රශ්න **සියල්ලට ම** පිළිතුරු **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** සපයන්න.

**1.** කිත්සිරි මහතා ප්‍රජා මධ්‍යස්ථානයකට මුදල් පරිත්‍යාගයක් කළේ ය. ඔහු පරිත්‍යාග කළ මුළු මුදලින් $\frac{2}{9}$ක් සංගීත භාණ්ඩ මිල දී ගැනීම සඳහා ද $\frac{1}{2}$ක් ක්‍රීඩා භාණ්ඩ මිල දී ගැනීම සඳහා ද යොදා ගැනුණි.

(i) මුළු මුදලින් කවර භාගයක් සංගීත භාණ්ඩ සහ ක්‍රීඩා භාණ්ඩ මිල දී ගැනීම සඳහා යොදා ගැනුණේ දැයි සොයන්න.

ඉතිරි වූ මුදලින් $\frac{1}{5}$ක් පුස්තකාලයට පොත් මිල දී ගැනීම සඳහා යොදා ගැනුණි.

(ii) මුළු මුදලින් කවර භාගයක් පොත් මිල දී ගැනීම සඳහා යොදා ගැනුණේ දැයි සොයන්න.

පොත් මිල දී ගත් පසු ඉතිරි වූ මුදල ප්‍රජා මධ්‍යස්ථානය පිළිසකර කිරීම සඳහා යොදා ගැනුණි.

(iii) මුළු මුදලින් කවර භාගයක් පිළිසකර කිරීම සඳහා යොදා ගැනුණේ දැයි සොයන්න.

(iv) පිළිසකර කිරීම සඳහා වැය වූ මුදල රු. 20 000 නම් කිත්සිරි මහතා පරිත්‍යාග කළ මුළු මුදල සොයන්න.

**2.** එක්තරා ගොවීන් පිරිසක්, වගා කිරීම සඳහා විවිධ එළවළු වර්ග තෝරාගත් ආකාරය රූපයේ දී ඇති වට ප්‍රස්තාරයෙන් දැක්වේ. සෑම ගොවියෙක්ම එක් එළවළු වර්ගයක් පමණක් වගා කළේ ය.




වට්ටක්කා තෝරාගත් ගොවීන් ගණන බටු තෝරාගත් ගොවීන් ගණනට සමාන වේ.

(i) බටු තෝරාගත් ගොවීන් නිරූපණය කෙරෙන කේන්ද්‍රික ඛණ්ඩයේ කේන්ද්‍ර කෝණයේ විශාලත්වය සොයන්න.

බෝංචි තෝරාගත් ගොවීන් ගණන 15කි.

(ii) වට්ටක්කා තෝරාගත් ගොවීන් ගණන සොයන්න.

(iii) මෙම වට ප්‍රස්තාරයෙහි නිරූපණය වන මුළු ගොවීන් ගණන සොයන්න.

වසරකට පසු, බටු වගා කරමින් සිටි ගොවීන්ගෙන් 20 දෙනෙක් එළවළු වගා කිරීම නතර කළහ.

(iv) වෙනස් වූ දත්ත සලකා ඇඳ ඇති නව වට ප්‍රස්තාරයක බටු වගා කරන ගොවීන් නිරූපණය කෙරෙන කේන්ද්‍රික ඛණ්ඩයේ කේන්ද්‍ර කෝණයේ විශාලත්වය සොයන්න.

3. කොටස් වෙළෙඳපොළ ආයෝජකයකු වන පෙරේරා මහතා, කොටසක වෙළෙඳපොළ මිල රු. 80ක් වන සමාගමක කොටස් මිල දී ගැනීමට රු. 40 000ක් ආයෝජනය කරයි. එම සමාගම එක් කොටසකට රු. 6 බැගින් වාර්ෂික ලාභාංශ ගෙවයි.

(i) පෙරේරා මහතා මිල දී ගන්නා කොටස් ගණන සොයන්න.

(ii) පෙරේරා මහතාට ලැබෙන වාර්ෂික ලාභාංශ ආදායම සොයන්න.

වසරකට පසු, පෙරේරා මහතා කොටස් සියල්ල විකුණා රු. 3 500ක ප්‍රාග්ධන ලාභයක් ලබයි.

(iii) කොටසක විකුණුම් මිල සොයන්න.

පෙරේරා මහතා තමා ලබන ලාභාංශ ආදායමට හා ප්‍රාග්ධන ලාභයට තවත් රු. 3 500ක් එක් කොට එම සම්පූර්ණ මුදල 10%ක වාර්ෂික වැල් පොලී අනුපාතිකයක් ගෙවන ස්ථිර තැන්පත් ගිණුමක වසර දෙකක කාලයකට තැන්පත් කරයි.

(iv) වසර දෙක අවසානයේ දී ගිණුමේ ඇති මුළු මුදල සොයන්න.

4. පෙට්ටියක් තුළ රතු පාට ටෙනිස් බෝල තුනක් හා කොළ පාට ටෙනිස් බෝලයක් ඇත. පෙට්ටියෙන් බෝලයක් ඉවතට ගෙන එහි පාට සටහන් කර ගෙන ආපසු දමනු ලැබේ. නැවතත් පෙට්ටියෙන් බෝලයක් ඉවතට ගෙන එහි ද පාට සටහන් කර ගනු ලැබේ. බෝල ඉවතට ගැනීම සසම්භාවී ව සිදු කරනු ලබයි.

(i) අදාළ නියැදි අවකාශය දී ඇති කොටු දැල තුළ "X" ලකුණ යොදා ගනිමින් දක්වන්න ($R_1$, $R_2$, $R_3$ මගින් රතු පාට බෝල ද $G$ මගින් කොළ පාට බෝලය ද දැක්වේ).




(ii) අඩු වශයෙන් එක් වරක්වත් කොළ පාට බෝලය ඉවතට ගැනීමේ සිද්ධිය කොටු දැල තුළ වට කොට දක්වා එහි සම්භාවිතාව ලියා දක්වන්න.

මෙම රතු පාට බෝල තුනෙන් දෙකක, එක එකක් මත $X$ අක්ෂරය ද ඉතිරි රතු පාට බෝලයේ හා කොළ පාට බෝලයේ, එක එකක් මත $Y$ අක්ෂරය ද ලකුණු කර ඇත. ඉහත සෑම ඉවතට ගැනීමක දී ම බෝලය මත ඇති අක්ෂරය ද සටහන් කර ගන්නා ලදැයි සිතමු.

(iii) මෙම සසම්භාවී පරීක්ෂණයට අදාළ පහත දැක්වෙන රුක් සටහන සම්පූර්ණ කරන්න.




(iv) අවස්ථා දෙකේ දී ම එක ම අක්ෂරය ලකුණු කර ඇති බෝල ඉවතට ගැනීමේ සම්භාවිතාව සොයන්න.

(v) වඩා වැඩි සම්භාවිතාවක් ඇත්තේ අවස්ථා දෙකේ දී ම එක ම අක්ෂරය ලකුණු කර ඇති බෝල ඉවතට ගැනීමට ද එසේත් නැත්නම් අඩු වශයෙන් එක් වරක්වත් කොළ පාට බෝලය ඉවතට ගැනීමට ද යන්න හේතු සහිත ව ප්‍රකාශ කරන්න.

---

5. රංගශාලාවක බිමෙහි දළ සටහනක් රූපයේ දැක්වේ. වේදිකාව සහිත ඇති $CED$ අර්ධ වෘත්තාකාර කොටසකින් හා ප්‍රේක්ෂකාගාරය සහිත ඇති $ABCD$ සෘජුකෝණාස්‍රාකාර කොටසකින් එය සමන්විත වේ. $DC$ හි දිග 14 m වේ.

පහත ගණනය කිරීම්වල දී අවශ්‍ය වූ විට $\pi$ හි අගය සඳහා $\frac{22}{7}$ ගන්න.




(i) $CED$ අර්ධ වෘත්තයේ චාප දිග සොයන්න.

(ii) වේදිකාව සහිත ඇති බිමෙහි වර්ගඵලය සොයන්න.

(iii) ප්‍රේක්ෂකාගාරයේ බිමෙහි වර්ගඵලය වේදිකාව සහිත ඇති බිමෙහි වර්ගඵලය මෙන් තුන්ගුණයක් නම්, $AD$ හි දිග සොයන්න.

(iv) වේදිකාව සහිත ඇති බිම වටා විදුලි බල්බ සවි කොට ඇති අතර $C$ හා $D$ හි ද බල්බ දෙකක් සවි කොට ඇත. $CD$ රේඛාව මත ඇති අනුයාත බල්බ අතර මීටර 1.4ක සමාන පරතරයක් ඇත. $CED$ චාපය මත ඇති බල්බ ද සමාන පරතරයකින් යුතුව සවි කොට ඇත. $CD$ රේඛාව මත හා $CED$ චාපය මත ඇති බල්බ ගණන් සමාන ය. $CED$ චාපය මත ඇති අනුයාත බල්බ දෙකක් අතර චාපය ඔස්සේ ඇති දුර ගණනය කරන්න.